# අලුත් පල්ලි සියයට අනූවක් නීති විරෝධියි

අතිපූජ්‍ය මඩිහේ පඤ්ඤාසීහ මහානායක මාහිමිපාණන් වහන්සේ

ශ්‍රී ලංකාවට පුරාවෘත්ත ඉතිහාසය, ලිඛිත ඉතිහාසය යැයි ඉතිහාසය දෙකක් ඇත. පුරාවෘත්ත ඉතිහාසය අවුරුදු දහදාහකටත් පෙර වාසය කළ රාවණ රජතුමාගෙන් ආරම්භ වෙයි. ලිඛිත ඉතිහාසය ආරම්භ වන්නේ අවුරුදු දෙදහස් පන්සිය තිස්හතකට පෙර භාරතය සිට පැමිණි පිරිවර සහිත විජය කුමරුන්ගෙන් ය.

රාවණ රජතුමාගේ කාලයෙහි ජනතාව හෙළයන් නමින් හැඳින්විණ. විජය කුමරු සිංහ වංශික ය. එහෙයින් හෙළයෝ සිංහ වංශිකයෝ වූහ. පණ්ඩුකාභය රජතුමාගේ මාපිය දෙදෙනා ම ශාක්‍ය වංශික ය. පණ්ඩුකාභය රජු සිංහවංශිකයන් ලානය හෙවත් විනාශ කළ හෙයින් රජු සහ පිරිස සිංහලයෝ වූහ යනු උගතුන්ගේ මතයකි. මිහිඳු මහ රහතන් වහන්සේ ගේ පැමිණීමෙන් පසු බෞද්ධයෝ වූහ.

දකුණු ඉන්දියාවෙන් සේන ගුත්තිකයන් හා එළාරයන් පැමිණ යුද්ධ කොට උතුර හා උතුරු මැද පළාත් පාලනයට ගන්නා ලදී. එහෙත් දුටුගැමුණු රජතුමා යුද්ධයෙන් ඔවුන් පරාජිත කොට ත්‍රිසිංහලය ම එක් සේසත් කොට මහරජ විය. මුළු රට ම සිංහල පාලනයට යටත් විය. එහෙයින් රටවැසියෝ සිංහල බෞද්ධයෝ වූහ.

## අසිංහලයන් ඇති වූ සැටි:

යුද්ධයෙන් පරාජිත වැ ඉතිරි වූ දමිළයන්ගෙන් කොටසක් දකුණු ඉන්දියාවට පැන ගත්තා, කොටසක් උතුරේ පදිංචි විය. සිංහල බෞද්ධයන්ගේ හොඳකම නිසා ඔවුනට කරදරයක් නැති ව වාසය කරන්නට ඉඩ ලැබුණා. එයින් දෙමළ නමින් දෙවන ජන කොටසකුත් හින්දු නමින් දෙවන ආගමික කොටසකුත් ඇති විය.

හත්වැනි සියවසෙහි මුස්ලිම් රට වලින් වෙළඳාමට පැමිණියවුන් සිංහල ගැහැණුන් අවාහ කරගෙන මෙහි ම පදිංචි වුණා. එයින් ලංකාවෙහි මුස්ලිම් නමින් තෙවන ජනකොටසකුත් ඉස්ලාම් නමින් තෙවන ආගමකුත් ඇති විය.

දහසය වැනි සියවසෙහි ශ්‍රී ලංකාව ආක්‍රමණය කළ පෘතුගීසිහු කතෝලිකයෝ වූහ. ඔවුන්ගේ තාඩන පීඩන ඝාතන ඇතැම් සෙබළුන් සිංහල කාන්තාවන් අවාහ කැර ගැනීම නිසාත් ලංසි නමින් සිවුවන ජන කොටසකුත් කතෝලික නමින් සිවුවන ආගමකුත් ඇති විය.

1658 දී ශ්‍රී ලංකාව ආක්‍රමණය කළ ඕලන්දයෝ ක්‍රිස්තියානීහු වූහ. ඔවුන්ගේ තාඩන පීඩන ඝාතන නිසාත් ඇතැම් සෙබළුන් සිංහල කාන්තාවන් අවාහ කැර ගැනීම නිසාත් ලංසි නමින් පස්වන ජන කොටසකුත් ක්‍රිස්තියානි නමින් පස්වන ආගමකුත් ඇති විය.

1824 දී ඉංග්‍රීසීන් නුවරඑළිය දිසාවෙහි තේ කෝපි වැවීම ආරම්භ කළා. ඒ තේ කෝපි වැවීමට කම්කරුවන් වශයෙන් දකුණු ඉන්දියාවෙන් දෙමළ මිනිසුන් ගෙන්වා ගන්වා ලදී. ඔවුහු බොහෝ දෙනා හින්දූහු වූහ. එයින් ඉන්දියානු දෙමළ නමින් ජන කොටසකුත් ඇති විය. දැන් ඔවුන් ශ්‍රී ලංකාවෙහි පුරවැසිකම් ලබා ඇත.

## ජනරජ පනත හා ආගමික නිදහස:

1972 වැන්නෙහි සම්මත ජනරජ පනතෙහිත් 1977 වැන්නෙහි සම්මත ජනරජ පනතෙහිත් ආගම් පිළිබඳ ව්‍යවස්ථාව බොහෝ දුරට සමාන ය. 1977 වැන්නෙහි ආගම් පිළිබද ව්‍යවස්ථාව මෙසේ ය. **"ශ්‍රී ලංකා ජනරජය බුද්ධාගමට ප්‍රමුඛස්ථානය පිරිනමන්නේ ය. එහෙයින් 10 වන ව්‍යවස්ථාවෙන් සහ 14 වන ව්‍යවස්ථාවේ (1) වන අනුව්‍යවස්ථාවේ (ඉ) ඡේදයෙන් සියලුම ආගම්වලට පිරිනැමෙන අයිතිවාසිකම් ආරක්ෂා කර දෙන අතර බුද්ධ ශාසනය සුරක්ෂිත කොට පෝෂණය කිරීම රජයේ වගකීම විය යුත්තේ ය."**

10 වන ව්‍යවස්ථාවෙහි මූලික අයිතිවාසිකම් මෙසේ ය: **"සෑම තැනැත්තෙකුට ම තමන් අභිමත ආගමක් ඇදහීමේ හෝ වැළඳ ගැනීමේ නිදහස ද ලබ්ධියක් හෝ විශ්වාසයක් දැරීමේ**

**හෝ පිළිගැනීමේ නිදහස ද ඇතුළු ව සිතීමේ නිදහසට හෘදය සාක්ෂියේ නිදහසට හා ආගමික නිදහසට හිමිකම් ඇත්තේ ය."**

14 වන ව්‍යවස්ථාවේ (1) වන අනුව්‍යවස්ථාවේ (ඉ) ඡේදය මෙසේ ය: **"එකලාව හෝ අන් අය සමඟ ප්‍රසිද්ධියේ හෝ පෞද්ගලිකව තම ආගම ලබ්ධිය හෝ විශ්වාසයක් ඇදැහීමෙන්, පිළිපැදීමෙන් ප්‍රගුණ කිරීමෙන් සහ ඉගැන්වීමෙන් ප්‍රකාශ කිරීමේ නිදහසට...හිමිකම් ඇත්තේ ය."**

මෙකල දියුණු යැයි කියා ගන්නා රට වල පාලක පක්ෂයේ ආගමට හැර අන් ආගම් වලට පනවා තිබෙන තහංචි නීති දෙස බලන විට ශ්‍රී ලංකාවෙහි බුද්ධාගමට ප්‍රමුඛස්ථානය දෙන අතර අන් ආගම් වලට දී තිබෙන නිදහස හා පහසුකම් වර්ණනා විෂයාතික්‍රාන්ත ය.

ලෝකයෙහි පෙරදිග රටවලින් විශාල ම රට චීනය යි. එහි පුරවැසිකම් ප්‍රතිපත්තිය මා 1946 වැන්නෙහි චීනයෙහි සිටිය දී දැන ගත් පරිදි මෙසේ ය. **1. චීන ගණයට ඇතුළු වැ සිටීම. 2. චීන බස තමාගේ බස ලෙස පිළිගැනීම. 3. චීන නාමයකුත් ගැනීම යි.**

බටහිර රටවලින් විශාල ජනගහනයක් ඇති රට ඇමරිකාවයි. එහි පුරවැසිකම් ලබන්නට ඇමරිකන් වන්නට උවමනා වන්නාක් මෙන් ම ඉංග්‍රීසි බස ඉගෙන තිබෙන්නට උවමනා ය. එය දැන ගැනීම සඳහා ලිඛිත පරීක්ෂණයක් ද පවත්වයි.

## බුද්ධ ධර්ම ප්‍රචාරය:

බුද්ධත්වයට පත් වැ බලවත් නිරාමිෂ ප්‍රීතියෙන් ප්‍රීති වූ බුදුරජාණන් වහන්සේ **"අනෙක ජාති සංසාරං"** ආදී වශයෙන් ප්‍රීති වාක්‍ය පවත්වා **"අපාරුතා තෙසං අමතස්ස ද්වාරා. යෙ සොතවන්තො පමුඤ්චන්තු සද්ධං"** අමාමහ නිවන් දොර ඇරියා කන් ඇත්තේ අසත් වා, ශ්‍රද්ධාව මුදත් වා යි වදාළහ. මේ ධර්ම ප්‍රචාරක සාම පිළිවෙත යි.

නිදහස, විශේෂයෙන් ආගමික නිදහස පිළිබඳ කාලාම සූත්‍රයෙන් විශේෂ දේශනාවක් කළ එක ම උත්තමයා බුදුරජාණන් වහන්සේ බව පෙරදිග ත් අවරදිග ත් උගතුන් පිළිගෙන අවසාන ය. ධර්මශක්තියෙන් හීන ආගම් වලැ තිබෙන රහස් කොටස් හෝ කියවන්නට තහනම් කොටස් හෝ බුද්ධ ධර්මයෙහි නැත. බුද්ධ ධර්මය කියවන්න කියවන්න රස ය. න්‍යායානුකූලව තර්ක කරන්න කරන්න ප්‍රීති ය. බුද්ධාගමේ තිබෙන මේ විශේෂ ලක්ෂණය නිසා මේ රටෙහි අන්‍ය ආගමිකයනට දී තිබෙන නිදහස හා පහසුකම් ගැන බෞද්ධයන් වශයෙන් අපි අතිශයින් සතුටු වෙමු.

අප බෞද්ධයන් වශයෙන් මේ රටෙහි හෝ අන් රටවල හෝ ආගම් වලට කිසි ම විරුද්ධයක් නැත. එහෙත් ආගමික ආක්‍රමණ වලට සම්පූර්ණයෙන් ම විරුද්ධ යි. සාධකයක් වශයෙන් කියනවා නම් බෞද්ධයන් කතෝලික ආගමට විරුද්ධ නැත. එහෙත් කතෝලික ආක්‍රමණයන්ට සියයට පන්සියයක් විරුද්ධ ය. කතෝලිකයන් හොඳින් ආගම අදහනවා නම් සියයට පන්සියයක් එකඟ ය. එහෙත් ආගම ඇදහීමේ මායාවෙන් නොයෙක් උපක්‍රම යොදවා බෞද්ධයන් කතෝලික හෝ ක්‍රිස්තියානි හෝ ආගමට හරවා ගැනීමේ විවිධ ව්‍යාපාරයනට සියයට පන්සියයක් විරුද්ධ ය. කතෝලිකයන් හෝ ක්‍රිස්තියානීන් පල්ලි හදනවාට බෞද්ධයන් විරුද්ධයක් නැත. එහෙත් නීතියට පටහැනිව හදන පල්ලිවලට ද නුසුදුසු ස්ථාන වල හදන පල්ලි වලට හා සාමය කඩ කෙරමින් හදන පල්ලිවලට ද බෞද්ධයන් සියයට පන්සියයක් විරුද්ධ ය.

## පල්ලි හැදීම ගැන ඉංග්‍රීසි නීතිය:

බෞද්ධ හැර අන් සියලු ම ආගමික දේවස්ථාන හැදීම පිළිබඳව ඉංග්‍රීසීන් විසින් පනවන ලද නීතියක් ඇත. ඒ නීතිය අනුව පසුගිය සියවසර තුළ තනවන ලද අන්‍යාගමික දේවස්ථානවලින් සියයට අනූවකට වැඩි සංඛ්‍යාවක් නීති විරෝධී යයි කිව යුතු ය. ශ්‍රී ලංකාව සඳහා ඉංග්‍රීසීන් සම්පාදනය කළ නීති ග්‍රන්ථමාලාවේ 11 වන වෙළුමේ බ්‍රිතාන්‍ය ආධිපත්‍යය ප්‍රකාශන 391 වන ඡේදයෙහි 882 වන පිටුවෙහි එන මේ නීතිය පනවන ලද්දේ 1818 දී ය. එය ඉංග්‍රීසි රජය විසින් 1832 දී පිළිගන්නා ලදු වැ 1892 දී නීතිගත කරන ලදී. ඒ නිතිය මෙසේ ය. **"බුද්ධාගමේ පූජ්‍යයන් වහන්සේලාට ත් පෙරහැර චාරිත්‍ර විධිවලට ත් පෙර දක්වන ලද ගෞරවය දැක්විය යුතු අතර වෙනත් හැම පුද්ගලයන් සාමකාමී ලෙස අදහන වෙනත් ආගමික විධි රජය මගින් ආරක්ෂා නො කිරීමක් මෙයින් අදහස් නොවේ. එසේ ම ආණ්ඩුකාරයාගේ නිසි**

**අවසරය ඇති වැ සුදුසු පරිසරයන්හි ආගමික පූජාස්ථාන ඉදිකිරීමක් මෙයින් වළක්වාලනු නො ලැබේ.**

මේ නීතියෙහි ඇති වචන තුනක් ගැන සැලකිය යුතු වේ.

1. **සාමකාමී ලෙස අදහන** යන්න යි. මේ රට ආක්‍රමණය කළ අධිරාජ්‍ය තුනක් ඔවුන්ගේ බලය ලත් පූජකවරුනු ත් සාමකාමී ලෙස ආගම අදහනවා වෙනුවට බෞද්ධයන් විනාශ කළ ආකාරය මෙහි දී ලියන්නට කියන්නට පිළිවන් කමක් නැත. තවමත් සාමය කඩවන අන්දමට ගෙන යන විවිධ ව්‍යාපාරවල සීමාවක් නැත. මේ පිළිබඳ වැ අපේ රටේ තිබෙන්නේ පුදුම තත්වයකි. සාමය කඩ කරන ක්‍රියා වල යෙදෙන අය හොඳයි. එය පෙන්වා දෙන අය නරක යි.

2. **ආණ්ඩුකාරයාගේ නිසි අවසරය ඇතිව** යන්න යි. 1892 වැන්නෙහි මේ ව්‍යවස්ථාව නීති ගත කළාට පසු හැදූ පල්ලිවලින් කීයක් ආණ්ඩුකාරයාගේ නිසි අවසරය ලබා ගෙන කෙරුණේ ද? මහ නගර සභාවකින් හෝ සුළු නගර සභාවකින් හෝ ගෙවල් හැදීමට අවසර ලබා ගැනීමේ නීතිය අනුව අවසර ලබා නොගෙන ඇති පල්ලි සියල්ල ම නීති විරෝධි යි.

3. **සුදුසු පරිසරය** යන්න යි. මෙය විග්‍රහ කොට නැතත් නුවණැති කෙනෙකුට විග්‍රහ කර ගැනීම අපහසු නොවේ. මෙකල බොහෝ පල්ලි හදන්නේ නුසුදුසු පරිසරයක බැවින් ඒ සියල්ල ම නීති විරෝධි යි. මෙන්න එබඳු තැන් කිහිපයක්. කෝණේශ්වරම් කෝවිල පුරාණ ගෝකණ්ණ විහාරය යි. කැරගල පුරාණ දිවා ගුහාවය යි. තවත් පුරාණ විහාර විස්සක් පමණ කෝවිල් කරගෙන ඇත. සාධකයක් වශයෙන් කියතොත් ත්‍රිකුණාමලේ කන්නියාවේ උණුවතුර ළිං අසල අක්කර පහක පමණ භූමිභාගයෙහි තිබෙන්නේ පුරාණ විහාරයෙහි නෂ්ටාවශේෂ යි. එහි කෝවිල හදා තිබෙන්නේ පුරාණ දාගැබ උඩ ය. කෝවිලේ පඩියට සවි කැර තිබෙන්නේ ඒ ස්ථානයට අයත් ශිලා ලේඛනය යි. තව ද සාමය කඩ කරමින් නුසුදුසු පරිසරයන්හි පල්ලි හදන්නට ගොස් ඇති වී තිබෙන අවුල් තිස් ගණනෙකි.

මේ ආක්‍රමණිකයනට පිටරට වලින් මුදල් අප්‍රමාණ ව ලැබෙයි. මේ මුදල් යොදවා බෞද්ධයන් ආක්‍රමණය කරයි. එක අතකින් බෞද්ධ ප්‍රදේශයන්හි ඉඩම් මිලයට ගනී. එය කැබලි කොට විකුණා කතෝලික හෝ ක්‍රිස්තියානි ගමක් හදයි. එතැන පල්ලියක් ද හදයි. එතැන් සිට අවට බෞද්ධයන්ගේ දුප්පත්කම දඩමීමා කරගනිමින් ආක්‍රමණය පටන් ගනී. තවත් අතකින් සමාජ සේවයට කියා බෞද්ධ ගම්වල ගෙවල් බද්දට හෝ මිලයට ගෙන පදිංචි වෙයි. පළමු වැ ඔවුනගේ ප්‍රයෝජනයට ගේ ඇතුළේ කුරුසියක් සවි කරයි. ටික කලකින් කුරුසිය ඉස්තෝප්පුවට එයි. තවත් ටික කලකින් කුරුසිය මිදුලට එයි. ඊට පසු පල්ලිය යි.

ඉහත සඳහන් කරුණු තුන හොඳින් මැදහත්ව නුවණින් සලකා බලන්න. පල්ලි හැදීම පිළිබඳ නීතිය ඉංග්‍රීසි ආණ්ඩුව පිළිගත් දින පටන් වලංගු යයි ශ්‍රී ලංකාවේ අධිකරණය පිළිගන්නව නම් එදා සිට ම හෝ නීතිය ලංකාවේ නීති ගත වූ දින පටන් හෝ තනන ලද පල්ලි වලින් සියයට අනූවක් නීති විරෝධි යැයි කිව යුතු වේ. අපේ සාමකාමී ගුණය නිසා උසාවි නොගියත් යම්කිසි ලෙසකින් උසාවි ගියොත් දැන් තිබෙන අලුත් පල්ලි සියයට අනූවක් නීති විරෝධි යැයි උසාවිය තීරණය කරනු ඇත. අපේ සාමකාමී ගුණය නිවටකමක් හැටියට සලකා ඉදිරියට ත් පල්ලි හදනවා නම් රටෙහි සාමය සඳහා උසාවි යැමට බෞද්ධයන් සූදානම් විය යුතු ය.

දේවස්ථාන හැදීමේ නීතිය හින්දු, මුස්ලිම්, ක්‍රිස්තු යන ආගම් තුනට ම සමාන නම් ක්‍රිස්තු පල්ලි හදන විට පමණක් බෞද්ධයන් විරුද්ධ වන්නේ මන්දැයි සමහරු අසති. හේතුවක් නැතිව එසේ විරුද්ධ වෙනවා නම් වැරදි ය. එසේ විරුද්ධ වන්නේ හේතුවක් ඇතිව ය. තවමත් හින්දු, මුස්ලිම් දේවස්ථාන හදන්නේ බෞද්ධයන් හරවා ගැනීමට නොව ඔවුන්ගේ ආගම ඇදහීමට ය. සමහර ක්‍රිස්තු දේවස්ථාන බෞද්ධ ප්‍රදේශවල හදන්නේ සමාජ සේවා ආදී විවිධාකාරයෙන් බෞද්ධයන් ඒ ආගමට හරවා ගැනීමට ය. එහෙයින් බෞද්ධයන් ගේ විරෝධය සාධාරණ හේතු සහිත යි.

හැම රටක ම රජයේ නීති මාලාව සම්පූර්ණයෙන් කියවා ඇති නීතිවේදීහු ද දුර්ලභ ය. එහෙයින් පල්ලි ඇතුළු දේවස්ථාන පිළිබඳ නීතිය දැන සිටි නීතිවේදීහු ද දුර්ලභ ගණයට අයත් වෙති. කීර්තිධර ව වාසය කළ රාජනීතිඥ හේම බස්නායක අග්‍රවිනිශ්චයකාරතුමා මේ නීතිය දැන ගත්තේ නීති ග්‍රන්ථ මාලාව සංශෝධනය සඳහා කියවන අවස්ථාවෙහි ය. එතුමා මේ

නීතියෙහි කිසිම සංශෝධනයක් නොකළ බව ත් මේ නීතිය තවම වලංගු බවත් කීවා. මම ද හොඳින් දැනගෙන අවස්ථාවක් පැමිණෙන තුරු නිහඬව සිටියෙමි.

ටික කලකට පසු හෝමාගම ගලවිලවත්තේ බෞද්ධයන්ගේ ගෙවල් මැද පල්ලියක් හදන්නට සූදානම් වීම නිසා මහා කාලගෝට්ටියක් ඇති වුණා. බෞද්ධයන් විරෝධය දක්වන සන්දේශයක් එකල සංස්කෘතික අමාත්‍ය හුරුල්ලේ මැතිතුමාට යැව්වා. එතුමා මේ බරපතල ප්‍රශ්නය විසඳන්නට දෙපාර්ශවයට ම දන්වා යැව්වා. අමාත්‍යතුමා මධ්‍යස්ථ කෙනෙකු හැටියට මට ආරාධනා කොට එව්වා.

මේ අවස්ථාව වන විට ඉසුඹු ලත් හේම බස්නායක මැතිතුමා ගිලන් ව ගෙදර සිටියා. එතුමා කියූ පල්ලි පිළිබඳ නීතිය සටහන් කොට එවන්නැයි කියා ලියුමක් දී කෙනෙකු යැවීමි. ගිලන් වැ සිටිය ත් එතුමා ම නීති මාලාව සටහන් කොට එව්වා. නීති වාක්‍ය පරිවර්තනය කිරීම සාමාන්‍ය කෙනෙකුට අපහසු හෙයින් අග්‍රවිනිශ්චයකාර ධුරය දැරූ ජී. පී. ඒ. සිල්වා මැතිතුමා ලවා  පරිවර්තනය කරවා ගතිමි.

නියමිත දිනයෙහි සාකච්ඡාවට ගොස් අතිගරු භික්ෂූන් වහන්සේලා හා ගරු බිෂොප්තුමන්ලා ද ඉදිරියෙහි කියවා පිටපත් සියලු දෙනාට ම භාර දුනිමි. අමාත්‍යතුමා එවෙලේම නීති ග්‍රන්ථ මාලාවෙහි සඳහන් කළ වෙළුම ගෙන්වා බලා අනෙක් අයට ද බලන්න දුන්නා.

නීති ග්‍රන්ථ මාලාව වරින්වර සංශෝධනය කිරීම චාරිත්‍රයයි. අන්තිම වරට සංශෝධනය කළේ ශ්‍රේෂ්ඨාධිකරණයේ විනිශ්චයකාර හෙක්ටර් දෙහරගොඩ මැතිතුමාගේ ප්‍රධානත්වයෙනි. පල්ලි පිළිබඳ මේ නීතිය සංශෝධනය කළේ නැත. පෙර සේ ම පවතිනවා.

මෙවර ක්‍රිස්තියානීන් ගම්වලට ගොස් දුප්පත්කම උපයෝගී කරගෙන ඇඳුම් ආහාරපාන නිවාස බෙහෙත් පරිත්‍යාග කරමින් බෞද්ධයන් ක්‍රිස්තියානි ආගමට හැරවීම ලංකාව පුරා කරගෙන යමින් පවතිනවා. මෙය පහත් වැඩකි. ආගම් ඉගෙන, තමන්ගේ ආගමට වඩා හොඳ නම් ඒ ආගමට යෑම මානව අයිතිවාසිකමකි. එහෙත් දුප්පත්කම උපයෝගී කරගනිමින් තම ආගමට හරවා ගැනීම ඉතා පහත් ක්‍රියාවකි. ඒ ආගමිකයන් කියන සර්වබලධාරී දෙවියකු ඉන්නවා නම් මගේ නම විකුණා කමින් මට නින්දා කරන්නට එපා යයි කියමින් අර මොනවද යන්න ටොක්ක ටොක්ක අනිනවා ඇත.

මේ පිළිබඳ රජයට කරන්නට තිබෙන්නේ ඉංග්‍රීසින් විසින් සම්පාදිත නීතිය ක්‍රියාත්මක කිරීමයි. සර්වසාධාරණ යයි කියන ඉංග්‍රීසීන්ගේ නීතියක් නිසා වත්මන් රජයට දොස් කියන්නට ඉඩක් නැත. දොස් කීවත් නීතියක් නම් ක්‍රියාත්මක කළ යුතුම යි.

ජනගහන සංඛ්‍යාලේඛන අනුව රවුම් නොම්මර වලින් කියනවා නම් බෞද්ධයෝ සියයට 70 යි, හින්දූහු 14 යි, ඉස්ලාම් 08 යි, ක්‍රෙස්තවයෝ 08 යි, එයින් 7.2 කතෝලිකයෝ, දසම 08 ක් විවිධ කොටස් වලට අයත් ක්‍රිස්තියානීහු ය. එයිනුත් වැදගත් උගත් බුද්ධිමත් අය මෙබඳු පහත් වැඩට කැමැති නොවනු ඇත. මේ පහත් වැඩපිළිවෙළට කතෝලිකයන් සම්බන්ධ නැති බව කතෝලික පූජකතුමන්ලා පෞද්ගලිකව ත්  ප්‍රසිද්ධියේ ත් ප්‍රකාශ කොට ඇත.

පල්ලි හැදීම පිළිබඳ ව ඉංග්‍රීසී නීතිය සම්මත වුයේ 1892 දී ය. එදා පටන් නීතියට විරුද්ධ ව තනවන ලද පල්ලි සියල්ල ම ඉවත් කරන්න යැයි අපේ ඉල්ලීමක් නැත. එහෙත් ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ හා දළදා වහන්සේ වැනි පරම පූජනීය විහාරස්ථාන අසල ඇති බෞද්ධ නොවන පූජනීය ස්ථාන ඉවත් කොට සුදුසු ක්‍රියාමාර්ගයක් ගැනීම රජයේ යුතුකම යි.

මෑත යුගයේ ඇතැම් මිෂනාරීන් අවුත් සිංහල බෞද්ධයන් ගේ දුප්පත්කම උපයෝගී කරගෙන නොයෙක් විදියේ සංග්‍රහ කොට ඔවුන් ගේ ආගමට හරවා ගැනීමේ ව්‍යාපාරය තහනම් කිරීම හා ප්‍රකට ව හෝ අප්‍රකට ව හෝ හදන ලද පල්ලි සියල්ල ම ඉවත් කිරීම රජයේ පරම යුතුකම යි. අප අනෙක් ආගම්වලට ස්වල්ප වූ ද විරෝධයක් නැත. එහෙත් මෑත යුගයෙහි පැමිණ අයුතු ලෙස ආගමට හරවා ගැනීමට බෞද්ධයන් පමණක් නො ව හින්දු, ඉස්ලාම් හා කතෝලිකයන් විරුද්ධ බව දැන ගන්නට ඇත.

බෞද්ධ විහාරස්ථාන හෝ නුසුදුසු ස්ථානයන්හි පල්ලි හදනවාට නිකායත්‍රයයේ ම මාහිමියන් වහන්සේලා එකඟ නැත. එහෙයින් බෞද්ධ විහාරස්ථාන හැදීම පිළිබඳ ව ප්‍රතිපත්ති මාලාවක් නිකායත්‍රයයේ කතිකාවත්වලට ඇතුළත් කළ යුතු බව සාමය ප්‍රාර්ථනා කරමින් දන්වා සිටිමි.

1993 දී සාසන සේවන සමිතිය මගින් ප්‍රකාශිත
“උත්තරීතර බලය මහා සංඝ බලයයි ” නම් ග්‍රන්ථයෙනි.
ප්‍රඥාප්‍රභා 7

යතුරුලිවීම:චමිත ලක්මාල් මහතා
අජිත් ද අල්විස් මහතා